
කැලේ සත්තු
කණ්නාඩියක්
අහුලලා
එන්. මිහල්යෙව්

දවසක් හා පැටියෙක් කැරට් අලයක් කාකා ගෙදර යමින් සිටියා. අතරමගදී එයා ඉර අව්වට මොකක්ද රවුම් තැටියක් වගේ එකක් බබලනවා දැක්කා. හා පැටියා එතනට ගිහින් එබිලා බැලුවා. පුදුමයක් නේ ! එයා වගෙම පුංචි ලස්සන හා පැටියෙක්!.

' හා නේ ! මේ ඉන්නේ අපේ නැති වුණු අයියා ! අයියෙ ඔයා කොහේද ගියේ? පේනේ ද මගේ අයියා මං දිහා බලලා හිනාවෙන හැටි! '



හා පැටියා කැලේ ඉන්න සතුන්ට කතා කළා.
'මෙන්න අපෙ අයියා ඇවිල්ලා! එන්න,
ඔයි කවුරුත් එන්න,
අපේ නැති වුණු අයියා බලන්න!'
මේක ඇතුලේ මගේ අයියා ඉන්නවා!
'කෝ! බලන්න කියලා ටිං ටිං ලේනී එතනට පැන ගෙන ආවා.
'මේ ඔයාට වැරදිලා !
මේ ඉන්නේ මගේ නංගි'





' ඔයාට වැරදිලා!

ඔතන ඉන්නේ මගේ අයියා.'

මේ දෙන්නාගෙ කතාව ඇහිලා කොන්ඩ කිරිල්ලිත් එතනට පියාඹගෙන ආවා.

'ඔයි දෙන්නටම වැරදිලා ! මේ ඉන්නේ මගේ මැරුණ අම්මා! මගේ අම්මා ඉන්නවා. මැරිලා නැහැ. '

' මේක නම් වෙන්න බැරි දෙයක් මේ දෙන්නම මං රවට්ටන්න හදන්නෙ!' හා පැටියා අඬ අඬා කිව්වා.

'ඔයි දෙන්නා එකතුවෙල මම රවට්ටන්නයි හදන්නෙ' ටිං ටිං ලේනීත් අඬන්න වුණා.

' මම නම් කවුරුවත් රවට්ටන්නෙ නැහැ. මේ ඉන්නේ මගේ මැරුණ අම්මා! මට අම්මා ලැබුණා. මට හරිම සන්තෝසයි.'

මේ අතර වලස්හාමි දැකල හා පැටියා අත්පුඩි ගහලා කතා කළා, එයාට කතා කරලා වෙච්ච දේ මෙහෙම කිව්වා.

'අනේ වලස්හාමි මේක අහන්න!

මේකෙ ඇතුලෙ ඉන්නෙ මගේ එක කුසේ උපන් අයියා' හා පැටියා කිව්වා.

' නැහැ! මෙතන ඉන්නෙ මගේ නංගී- මෙයාට වැරදිලා'

'නැහැ' නැහැ' මෙතන ඉන්නෙ මගේ මැරුණ අම්මා. එයා මං බලන්න ඇවිල්ල ඉන්නෙ.මේ කරදරකාරයන් දෙන්නා හින්දා මට තවම මගේ  අම්මා එක්ක කතා කරන්නවත් බැරි වුණා!' කාගෙත් කතා අහගෙන හිටිය වලස්හාමි මෙහෙම කිව්වා'





'ඔයි කවුරුත් කලබල වෙන්න එපා, මම ඒක හොඳින් සෝදිසි කරලා කියන්නම්.' වලස්හාමි රවුම් තැටිය අතට අරන් බලන්න වුණා. හාවයි, ටිං ටිං ලේනියි, කොණ්ඩ කිරිල්ලියි ඒ අසලටම වෙලා වලස්හාමි දිහා බලාගෙන ඉන්නවා.

වලස්හාමි මහ හයියෙන් සිනාවෙන්න පටන් ගත්තා.

'ඔයිගොල්ල කාටත් පිස්සුයි. මේ ඉන්නෙ මගේ මල්ලි. එයා හරිම දඟයා. මේ පේන්නෙ නැද්ද එයාගේ හැටි. මං වගේමයි. කට ඇරගෙන, දත් පෙන්නගෙන.. අත් දික්කරගෙන ඉන්න සෙප්පම්!'



දැන් හා පැටියට හරිම දුකයි! කණගාටුයි!
' මගෙ අයියා මට ඕන... ඇ! ඇ!  හා පැටියා අඬන්න පටන් ගත්තා.
ටිං ටිං ලේනීත්! දැන් අඬනවා.
කොණ්ඩ කිරිල්ලි විලාප දෙනවා.
වලස් පැංචාට දැන් කේන්තියි. ළමයිනේ මේ ඉන්නේ මගේ මල්ලි, ඕන නම් ඇවිල්ලා බලනවා! '
ඒ පාර හා පැටියයි, ටිං ටිං ලේනියි, කොණ්ඩ කිරිල්ලියි වලස් පැටියයි සෙරෝම අර තැටියට එබුණා.



පුදුමයක්!

මේ පාර හතර දෙනාගෙම නැදෑයෝ පෙනෙනවා!

මේ අතර හදිසියේ කැලේට එන ගමේ බළලෙක් එතනට ආවා. පුදුමයෙන් ඉන්න හතර දෙනාගෙන් ඇහැව්වා ඇයි ඔයාලා පුදුමවෙලා ඉන්නේ කියලා. ඒ කවුරුත් අර රවුම් තැටිය පෙන්නලා වෙච්ච දේ කිව්වා.

බළලා රවුම් තැටිය ගසක එල්ලා එයාත් මූහුණ බලන්න පටන් ගත්තා.

' මේක අපේ ගෙදරත් තියෙනවා. මම උදේ හවස මූහුණ බලන්නේ මේකෙන්. මේකට අපේ ගෙදර අය කියන්නෙ කණ්නාඩිය කියලා. මේක ළඟට ගියාම ඕන කෙනෙකුට තමන්ගේ මූහුණ බලා ගන්න පුළුවන්!

ගමේ බළලාගෙ කතාව අහල කැලේ සත්තු කණ්නාඩියෙන් මූහුණ බලා ගන්න පොරකන්න වුණා.





කැලේ සත්තු කණ්නාඩියක් අහුලලා.


නිර්මාණය:- එන්. මිහල්යෙව්
අනුවාදය:- ගුණසේන විතාන
චිත්‍ර:- එන්. පෙතෙව්, මොර්දුග්
මුද්‍රණය:- තරංජ් ප්‍රින්ට්ස්
ප්‍රකාශනය:- කුරුළු පොත්, 594/1 තාවල පාර
රාජගිරිය.
දු:ක:- 2863350/0777 629787

මිල රු.120.00

I. S. B. N. - 955-591-049-10